සියලු ම හිමිකම් ඇවිරිණි.

රහස්‍ය ලේඛනයකි.



ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව

අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2018

# 61 - භූගෝල විද්‍යාව

## ලකුණු දීමේ පටිපාටිය




මෙය උත්තරපත්‍ර පරීක්ෂකවරුන්ගේ ප්‍රයෝජනය සඳහා සකස් කෙරිණි.
ප්‍රධාන පරීක්ෂක රැස්වීමේ දී ඉදිරිපත්වන අදහස් අනුව මෙහි වෙනස්කම් කරනු ලැබේ.

අවසන් සංශෝධන ඇතුළත් කළ යුතුව ඇත.

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2018

## 61 - භූගෝල විද්‍යාව I, II

## අවසාන ලකුණු ගණනය කිරීම

**I පත්‍රය**

ප්‍රශ්න අංක 01 - 40 (01 X 40) ලකුණු 40

**II පත්‍රය**

**I කොටස**

1. ප්‍රශ්නය ලකුණු 20

**II කොටස**

| | | |
|---|---|---|
| 2. ප්‍රශ්නය | ලකුණු 10 | |
| 3. ප්‍රශ්නය | ලකුණු 10 | |
| 4. ප්‍රශ්නය | ලකුණු 10 | |
| 5. ප්‍රශ්නය | ලකුණු 10 | ප්‍රශ්න 04 කට ලකුණු 40 |
| 6. ප්‍රශ්නය | ලකුණු 10 | |
| 7. ප්‍රශ්නය | ලකුණු 10 | |
| 8. ප්‍රශ්නය | ලකුණු 10 | |

| | |
|---|---|
| I පත්‍රය | ලකුණු 40 |
| II පත්‍රය | ලකුණු 60 |
| අවසාන | ලකුණු 100 |

# අ.පො.ස. (සා.පෙළ) විභාගය - 2018
# උත්තරපත්‍ර ලකුණු කිරීමේ පොදු ශිල්පීය ක්‍රම

උත්තරපත්‍ර ලකුණු කිරීමේ හා ලකුණු ලැයිස්තුවල ලකුණු සටහන් කිරීමේ සම්මත ක්‍රමය අනුගමනය කිරීම අනිවාර්යයෙන් ම කළ යුතුවේ. ඒ සඳහා පහත පරිදි කටයුතු කරන්න.

1. උත්තරපත්‍ර ලකුණු කිරීමට රතුපාට බෝල් පොයින්ට් පෑනක් පාවිච්චි කරන්න.

2. සෑම උත්තරපත්‍රයකම මුල් පිටුවේ සහකාර පරීක්ෂක සංකේත අංකය සටහන් කරන්න. ඉලක්කම් ලිවීමේදී **පැහැදිලි ඉලක්කමෙන්** ලියන්න.

3. ඉලක්කම් ලිවීමේදී වැරදුණු අවස්ථාවක් වේ නම් එය පැහැදිලිව තනි ඉරකින් කපා හැර නැවත ලියා අත්සන යොදන්න.

4. එක් එක් ප්‍රශ්නයේ අනු කොටස්වල පිළිතුරු සඳහා හිමි ලකුණු ඒ ඒ කොටස අවසානයේ △ ක් තුළ ලියා දක්වන්න. අවසාන ලකුණු ප්‍රශ්න අංකයත් සමඟ □ ක් තුළ, භාග සංඛ්‍යාවක් ලෙස ඇතුළත් කරන්න. ලකුණු සටහන් කිරීම සඳහා පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය සඳහා ඇති තීරුව භාවිත කරන්න.

උදාහරණ : ප්‍රශ්න අංක 03

(i) ........................................ √ $\frac{4}{5}$

(ii) ........................................ √ $\frac{3}{5}$

(iii) ........................................ √ $\frac{3}{5}$

(03) (i) $\frac{4}{5}$ + (ii) $\frac{3}{5}$ + (iii) $\frac{3}{5}$ = $\frac{10}{15}$

## බහුවරණ උත්තරපත්‍ර : (කවුළු පත්‍රය)

01. ලකුණු දීමේ පටිපාටිය අනුව නිවැරදි වරණ කවුළු පත්‍රයේ සටහන් කරන්න. එසේ ලකුණු කළ කවුළු බ්ලේඩ් තලයකින් කපා ඉවත් කරන්න. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබා ගත හැකි වන පරිදි විභාග අංක කොටුව හා නිවැරදි පිළිතුරු ගණන දක්වෙන කොටුව ද කපා ඉවත් කරන්න. හරි පිළිතුරු හා වැරදි පිළිතුරු ලකුණු කළ හැකි වන පරිදි එක් එක් වරණ පේළිය අවසානයේ හිස් තීරයක් ද කපා ඉවත් කරන්න. **කපා ගත් කවුළු පත්‍රය ප්‍රධාන පරීක්ෂකවරයා ලවා අත්සන් යොදා අනුමත කර ගන්න.**

02. අනතුරුව උත්තරපත්‍ර හොඳින් පරීක්ෂා කර බලන්න. කිසියම් ප්‍රශ්නයකට එක් පිළිතුරකට වඩා ලකුණු කර ඇත්නම් හෝ එකම පිළිතුරක්වත් ලකුණු කර නැත්නම් හෝ වරණ කැපී යන පරිදි ඉරක් අඳින්න. ඇතැම් විට අයදුම්කරුවන් විසින් මුලින් ලකුණු කර ඇති පිළිතුරක් මකා වෙනත් පිළිතුරක් ලකුණු කර තිබෙන්නට පුළුවන. එසේ මකන ලද අවස්ථාවකදී පැහැදිලිව මකා නොමැති නම් මකන ලද වරණය මත ද ඉරක් අඳින්න.

03. කවුළු පත්‍රය උත්තරපත්‍රය මත නිවැරදිව තබන්න. නිවැරදි පිළිතුර ✓ ලකුණකින් ද, වැරදි පිළිතුර × ලකුණකින් ද ලකුණු කරන්න. නිවැරදි පිළිතුරු සංඛ්‍යාව ඒ ඒ වරණ තීරයට පහළින් ලියා දක්වන්න. අනතුරුව එම සංඛ්‍යා එකතු කර මුළු නිවැරදි පිළිතුරු සංඛ්‍යාව අදාළ කොටුව තුළ ලියන්න. ලකුණු පරිවර්තනය කළ යුතු අවස්ථාවලදී පරිවර්තිත ලකුණු අදාළ කොටුව තුළ ලියන්න.

## ව්‍යුහගත රචනා හා රචනා උත්තරපත්‍ර :

1. අයදුම්කරුවන් විසින් උත්තරපත්‍රයේ හිස්ව තබා ඇති පිටු හරහා රේඛාවක් ඇඳ කපා හරින්න. **වැරදි හෝ නුසුදුසු පිළිතුරු යටින් ඉරි අඳින්න. ලකුණු දිය හැකි ස්ථානවල හරි ලකුණු යෙදීමෙන් එය පෙන්වන්න.**

2. ලකුණු සටහන් කිරීමේදී ඕවර්ලන්ඩ් කඩදාසියේ දකුණු පස තීරය යොදා ගත යුතු වේ.

3. සෑම ප්‍රශ්නයකටම දෙන මුළු ලකුණු උත්තරපත්‍රයේ මුල් පිටුවේ ඇති අදාළ කොටුව තුළ ප්‍රශ්න අංකය ඉදිරියෙන් **අංක දෙකකින් ලියා දක්වන්න.** ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස් අනුව ප්‍රශ්න තෝරා ගැනීම කළ යුතුවේ. සියලු ම උත්තර ලකුණු කර ලකුණු මුල් පිටුවේ සටහන් කරන්න. ප්‍රශ්න පත්‍රයේ දී ඇති උපදෙස්වලට පටහැනිව වැඩි ප්‍රශ්න ගණනකට පිළිතුරු ලියා ඇත්නම් අඩු ලකුණු සහිත පිළිතුරු කපා ඉවත් කරන්න.

4. පරීක්ෂාකාරීව මුළු ලකුණු ගණන එකතු කොට මුල් පිටුවේ නියමිත ස්ථානයේ ලියන්න. උත්තරපත්‍රයේ සෑම උත්තරයකටම දී ඇති ලකුණු ගණන උත්තරපත්‍රයේ පිටු පෙරළමින් නැවත එකතු කරන්න. එම ලකුණු ඔබ විසින් මුල් පිටුවේ එකතුව ලෙස සටහන් කර ඇති මුළු ලකුණුට සමාන දැයි නැවත පරීක්ෂා කර බලන්න.

## ලකුණු ලැයිස්තු සකස් කිරීම :

මෙවර එක් පත්‍රයක් පමණක් ඇති විෂයන් හැර ඉතිරි සියලු ම විෂයන්හි අවසාන ලකුණු ඇගයීම් මණ්ඩලය තුළදී ගණනය කරනු නොලැබේ. එබැවින් එක් එක් පත්‍රයට අදාළ අවසාන ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවලට ඇතුළත් කළ යුතු ය. I පත්‍රයට අදාළ ලකුණු ලකුණු ලැයිස්තුවේ "I වන පත්‍රය" තීරුවේ **ඇතුළත් කර අකුරෙන් ද ලියන්න.** අදාළ විස්තර ලකුණු ඇතුළත් කර "II වන පත්‍රය" තීරුවේ II පත්‍රයේ අවසාන ලකුණු ඇතුළත් කරන්න. 43 චිත්‍ර විෂයයේ I, II හා III පත්‍රවලට අදාළ ලකුණු වෙන වෙනම ලකුණු ලැයිස්තුවල ඇතුළත් කර **අකුරෙන් ද ලිවිය යුතු වේ.**

21 - සිංහල භාෂාව හා සාහිත්‍යය, 22 - දෙමළ භාෂාව හා සාහිත්‍යය යන විෂයන්හි I පත්‍රයේ ලකුණු ඇතුළත් කර අකුරෙන් ලිවිය යුතු ය. II හා III පත්‍රවල විස්තර ලකුණු ඇතුළත් කර ඒ ඒ පත්‍රයේ මුළු ලකුණු අදාළ තීරුවේ ඇතුළත් කළ යුතු ය.

**සැ.යු :- සෑම විටම එක් එක් පත්‍රයට අදාළ මුළු ලකුණු පූර්ණ සංඛ්‍යාවක් ලෙස I වන පත්‍රය II වන පත්‍රය හෝ III වන පත්‍රය තීරුවේ ඇතුළත් කළ යුතු ය. කිසිදු අවස්ථාවක පත්‍රයේ අවසාන ලකුණු දශම සංඛ්‍යාවකින් නොතැබිය යුතු ය.**

***

## 1 වන ප්‍රශ්න පත්‍රයේ අභිමතාර්ථ

- විෂය නිර්දේශයේ සියලු ම ඒකකවල අන්තර්ගතය ආවරණය වන පරිදි සුවිශේෂ කරුණු පිළිබඳ දැනුම අවබෝධය හා විශ්ලේෂණාත්මක හැකියාව පිරික්සීම
- සිතියම් විද්‍යාවේ මූලික තොරතුරු පිළිබඳ දැනුම හා අවබෝධය හා භාවිතය පිරික්සීම
- ප්‍රස්තාර ඇසුරින් දත්ත විශ්ලේෂණය, විවරණය හා භාවිතය පිළිබඳ හැකියාව පිරික්සීම

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**61 | S | I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2018 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2018 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2018**

| | |
|---|---|
| භූගෝල විද්‍යාව | I, II |
| புவியியல் | I, II |
| Geography | I, II |

2018.12.12 / 0830 - 1140

පැය තුනයි
மூன்று மணித்தியாலம்
Three hours

අමතර කියවීම් කාලය - මිනිත්තු 10 යි
மேலதிக வாசிப்பு நேரம் - 10 நிமிடங்கள்
Additional Reading Time - 10 minutes

අමතර කියවීම් කාලය ප්‍රශ්න පත්‍රය කියවා ප්‍රශ්න තෝරා ගැනීමටත් පිළිතුරු ලිවීමේදී ප්‍රමුඛත්වය දෙන ප්‍රශ්න සංවිධානය කර ගැනීමටත් යොදාගන්න.

විභාග අංකය : ..............................

## භූගෝල විද්‍යාව I

✳ මෙම ප්‍රශ්න පත්‍රය ප්‍රශ්න **40** කින් සමන්විත ය.
✳ එක් එක් ප්‍රශ්නය සඳහා දී ඇති උපදෙස්වලට අනුකූලව **සියලු ම** ප්‍රශ්නවලට **මෙම ප්‍රශ්න පත්‍රයේ ම** පිළිතුරු සපයන්න.

● අංක **1** සිට **10** දක්වා ප්‍රශ්නවල එක් එක් හිස්තැනට ගැළපෙන පිළිතුර වරහන් තුළින් තෝරා **තිත් ඉර මත ලියන්න.**

1. සමස්ත ගෝලීය ජල ප්‍රමාණයෙන් මිනිසාට භාවිතයට ගත හැකි මිරිදිය ජලය ලෙස පවතින්නේ ......1%...... පමණ ප්‍රමාණයකි.
(1% / 2.5% / 8%)

2. පෘථිවිය එහි කක්ෂ තලයට ......23½°...... ක් ඇලව පිහිටා ඇත.
(12½° / 23½° /66½°)

3. ශාක පත්‍රවල ඇති ජලය ......උත්ස්වේදනය...... වීමෙන් ඒවා වායුගෝලයට එකතු වේ.
(වාෂ්පීකරණය / උත්ස්වේදනය / ඝනීභවනය)

4. මැඩගස්කර් දූපත පිහිටා ඇත්තේ ......අප්‍රිකා...... මහාද්වීප තටකය තුළ ය.
(ආසියා / අප්‍රිකා / ඕස්ට්‍රේලියා)

5. අයර් විල පිහිටා ඇත්තේ ......ඕස්ට්‍රේලියාවේ...... ය.
(ඕස්ට්‍රේලියාවේ / යුරෝපයේ/ දකුණු අප්‍රිකාවේ)

6. ශ්‍රී ලංකාවේ වී වගා බිම්වලින් වැඩි ප්‍රමාණයක් ව්‍යාප්ත වී ඇත්තේ ......කුරුණෑගල / අම්පාර...... දිස්ත්‍රික්කයේ ය.
(කුරුණෑගල / අනුරාධපුර / අම්පාර)

7. ශ්‍රී ලංකාවේ තේ වගා කරන දිස්ත්‍රික්ක අතුරෙන් මැද රට තේ වගාව සඳහා ......බදුල්ල...... දිස්ත්‍රික්කය වැදගත් වේ.
(නුවරඑළිය / රත්නපුර / බදුල්ල)

8. ......ජපානය...... ශ්‍රී ලංකාවේ ධමනි මිනිරන් වැඩිම ප්‍රමාණයක් මිල දී ගන්නා රටයි.
(ජපානය / චීනය / ඇමරිකා එක්සත් ජනපදය)

9. ......කැනියොන්...... බලාගාරය කැලණි ගංගාව හා සම්බන්ධ ජල විදුලි බලාගාරයකි.
(කැලණිතිස්ස / සපුගස්කන්ද /කැනියොන්)

10. 1:50 000 පරිමාණයට අනුව සකස් කළ ශ්‍රී ලංකා භූ ලක්ෂණ සිතියම්වල සමෝච්ච රේඛා අන්තරය මීටර ...20...කි.
(20 / 100 /500)

- අංක **11** සිට **15** තෙක් දී ඇති එක් එක් ප්‍රකාශය නිවැරදි නම් '**නි**' යන්න වටා ද, වැරදි නම් '**වැ**' යන්න වටා ද රවුමක් අඳින්න.

**11.** තිරිඟු, වතු කෘෂිකර්මය යටතේ වගා කෙරෙන ප්‍රධාන භෝගයකි. නි / වැ

**12.** ශ්‍රී ලංකාවේ වගා බිම් ප්‍රමාණයෙන් 28%ක් පමණ පොල් වගාව සඳහා යොදාගෙන ඇත. නි / වැ

**13.** ලෝකයේ වානේ නිෂ්පාදනය හා අපනයනය සඳහා ප්‍රමුඛත්වය ගෙන ඇති රට චීනයයි. නි / වැ

**14.** රදාවඩුන්න ප්‍රදේශය, ශ්‍රී ලංකාවේ වෙස් මුහුණු කර්මාන්තය සම්බන්ධයෙන් විශේෂ වැදගත්කමක් උසුලයි. නි / වැ

**15.** ශ්‍රී ලංකාවේ පාංශු වර්ග අතුරෙන් රතු-දුඹුරු පස වියළි කලාපයට සීමා වේ. නි / වැ

- අංක **16** සිට **26** තෙක් ප්‍රශ්නවල හිස්තැන්වලට සුදුසු වචන යොදා සම්පූර්ණ කරන්න.

**16.** ශ්‍රී ලංකාවේ මුළු ජන සංඛ්‍යාවෙන් 5.2%ක් පමණ වූ අඩු ම ජන සංඛ්‍යාවක් ව්‍යාප්තව ඇත්තේ .................. පළාත තුළ ය.

**17.** සාර්ක් රටවල් අතර ඉහළ ම මානුෂ සංවර්ධනයක් ඇති රට .................. යි.

**18.** ස්වාභාවික උපද්‍රව වර්ගීකරණයට අනුව භූමිකම්පා හා සුනාමි .................. උපද්‍රව ගණයට අයත් වේ.

**19.** හෙක්ලා ගිනි කන්ද පිහිටා ඇති රට .................. යි.

**20.** මහා බාධක පරය නිර්මාණය වී ඇත්තේ ..................

**21.** දකුණු ඇමරිකාවේ පිහිටි .................. වනාන්තරය ලෝකයේ විශාලතම වර්ෂා වනාන්තරයයි.

**22.** ශ්‍රී ලංකා සංචාරක මණ්ඩලය විසින් ශ්‍රී ලංකාව ප්‍රධාන සංචාරක කලාප.................. කට බෙදා ඇත.

- අංක **23** සිට **26** තෙක් ප්‍රශ්නවලට පිළිතුරු සැපයීම සඳහා පහත දී ඇති ප්‍රස්තාරය උපයෝගී කරගන්න.

**2009 - 2017 - යල - මහ කන්න දෙකේ ශ්‍රී ලංකාවේ වී නිෂ්පාදනය**




**මූලය : ශ්‍රී ලංකාවේ ආර්ථික හා සමාජ සංඛ්‍යාන - 2018**
**ශ්‍රී ලංකා මහ බැංකුව**

23. මහ කන්නයේ වැඩි ම වී නිෂ්පාදනයක් ලැබී ඇත්තේ ........2016.......... වර්ෂයේදී ය.

24. යල කන්නයේ අඩු ම වී නිෂ්පාදනය ලැබී ඇත්තේ ..........2017................ වර්ෂයේදී ය.

25. සාපේක්ෂ වශයෙන් යල සහ මහ කන්න දෙකේදී ම වැඩි ම වී නිෂ්පාදනයක් වාර්තා වී ඇත්තේ ....2015...... වර්ෂයේදී ය.

26. මහ කන්නයේ ලැබූ නිෂ්පාදනය හා යල කන්නයේ ලැබූ නිෂ්පාදනය අතර වැඩි ම පරතරයක් වාර්තා වී ඇත්තේ.........2012...... වර්ෂයේදී ය.

- අංක **27** සිට **30** තෙක් දී ඇති ප්‍රශ්නවල **'අ'** සහ **'ආ'** යනුවෙන් තීරු දෙකක් දැක්වේ. **'අ'** තීරුවේ ඇති තොරතුරුවල අනුපිළිවෙළට අනුව **'ආ'** තීරුවේ ඇති තොරතුරු ගැළපූ විට නිවැරදි අනුපිළිවෙළ දැක්වෙන පිළිතුරට හිමි **අංකය ඉදිරියේ ඇති තිත් ඉර මත ලියා දක්වන්න.**

27.

| 'අ' **ප්‍රධාන සාගර** | 'ආ' **පිහිටා ඇති මුහුද** |
|---|---|
| 1. අත්ලාන්තික් සාගරය | A - කළු මුහුද |
| 2. ඉන්දියන් සාගරය | B - කැරිබියන් මුහුද |
| 3. පැසිෆික් සාගරය | C - අන්දමන් මුහුද |
| | D - සුදු මුහුද |

(1) B, C, A (2) B, C, D (3) C, D, A (4) D, B, C (..01...)

28.

| 'අ' **ඛනිජ වර්ග** | 'ආ' **නිධිගත වී ඇති ස්ථාන** |
|---|---|
| 1. කෙඔලින් | A - බෝගල |
| 2. ඉල්මනයිට් | B - පුල්මුඩේ |
| 3. ග්‍රැෆයිට් | C - එප්පාවල |
| | D - බොරලැස්ගමුව |

(1) A, B, C (2) C, D, B (3) D, B, A (4) D, C, A (..03..)

29.

| 'අ' **වනජීවී රක්ෂිත** | 'ආ' **පිහිටි ස්ථාන** |
|---|---|
| 1. ජාතික උද්‍යාන | A - උඩවලව |
| 2. දැඩි ස්වාභාවික රක්ෂිත | B - වීරවිල |
| 3. අභය භූමි | C - සිංහරාජ |
| | D - හක්ගල |

(1) A, C, B (2) A, D, B (3) B, A, C (4) B, C, D (.02..)

30.

| 'අ' **රට** | 'ආ' **මිලියන නගරය** |
|---|---|
| 1. ඇමරිකා එක්සත් ජනපදය | A - පිලඩෙල්ෆියා |
| 2. බ්‍රසීලය | B - සෝල් |
| 3. දකුණු කොරියාව | C - ෂැංහයි |
| | D - රියෝද ජැනෙයිරෝ |

(1) A, D, B (2) A, D, C (3) B, C, D (4) D, A, B (..01...)

- අංක **31** සිට **36** තෙක් ඇති එක් එක් ප්‍රශ්නයට දී ඇති පිළිතුරු හතර අතුරෙන් **නිවැරදි** හෝ **වඩාත් ගැළපෙන** හෝ පිළිතුර තෝරා, ඊට හිමි **අංකය** ඉදිරියේ ඇති **තිත් ඉර මත ලියා දක්වන්න.**

31. 'මාෂ' භෝග සඳහා පර්යේෂණ මධ්‍යස්ථානයක් පිහිටුවා ඇත්තේ
(1) මාතලේ ය. (2) අඟුනකොළපැලැස්සේ ය.
(3) ගන්නොරුවේ ය. (4) බටඅත ය. (..02.)

32. අවසාදිත පාෂාණ වර්ග දෙකක් ඇතුළත් පිළිතුර තෝරන්න.
(1) ගල් අඟුරු, ජිප්සම් (2) ග්‍රැනයිට්, බැසෝල්ට්
(3) දියමන්ති, ඩොලමයිට් (4) හුනුගල්, ගැබ්‍රෝ (..01...)

**33.** ඛනිජ සම්පත් වර්ගීකරණයට අනුව ලෝහමය **නොවන** ගණයට අයත් ඛනිජයකි.
(1) රූටයිල් (2) මැංගනීස් (3) යපස් (4) මිනිරන් (..04..)

**34.** නිවර්තන වර්ෂා වනාන්තරවල පමණක් දැකිය හැකි ශාක හා සත්ත්ව කාණ්ඩය දැක්වෙන පිළිතුර තෝරන්න.
(1) සෘජු කඳක් සහිත මෘදු දැව ශාක, ගෝනා, කොටියා
(2) තද අරටු සහිත ශාක, කොටියා, වෘකයා
(3) ඉඳිකටු වැනි පත්‍ර සහිත ශාක, පිනිමුවා, ගෝනා
(4) පළල් පත්‍ර හා පත්‍ර බහුල ශාක, ගෝරිල්ලා, කොටියා (..04..)

**35.** සංවර්ධනය මැනීම සඳහා භාවිත කෙරෙන නිර්ණායක කිහිපයක් පහත දක්වා ඇත.
- උපතේ දී ආයු අපේක්ෂාව
- සාක්ෂරතාව
- ක්‍රය ශක්තිය හා ගැළපූ ඒක පුද්ගල දළ ජාතික නිෂ්පාදිතය

ඉහත නිර්ණායක පදනම් කරගෙන සකස් කරන ලද සංවර්ධනය මැනීමේ දර්ශකය වන්නේ,
(1) භෞතික ජීවන තත්ත්ව දර්ශකය (PQLI) යි. (2) මානුෂ දරිද්‍රතා දර්ශකය (HPI) යි.
(3) මානුෂ සංවර්ධන දර්ශකය (HDI) යි. (4) මානුෂ පීඩක දර්ශකය (HSI) යි. (..03..)

**36.** 1:50000 පරිමාණයට ඇඳ ඇති සිතියමක දක්වා ඇති කුඹුරු යාය හතරක දිග හා පළල දැක්වෙන රූපසටහන් හතරක් පහත A, B, C හා D වලින් දැක්වේ.




මේවා අතුරෙන් වර්ග කිලෝමීටර එකක් විශාල කුඹුරු යාය දැක්වෙන රූපසටහනට අදාළ අක්ෂරය සඳහන් පිළිතුර තෝරන්න.
(1) A (2) B (3) C (4) D (..03..)

- පහත A, B, C හා D වලින් දක්වා ඇති එකිනෙකට සම්බන්ධ මාතෘකා යුගල හොඳින් අධ්‍යයනය කොට අංක **37** සිට **40** තෙක් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න.

A - 1. කාර්මීකරණය
 - 2. අම්ල වැසි

B - 1. අධ්‍යාපනය
 - 2. මානව සම්පත

C - 1. පාරිසරික සමතුලිතතාව
 - 2. තිරසර සංවර්ධනය

D - 1. ගෝලීයකරණය
 - 2. සංවර්ධනය

**37.** පළමුවැන්නේ පැවැත්ම සඳහා දෙවැන්න අත්‍යාවශ්‍ය වේ යැයි සිතිය හැකි මාතෘකා යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D (..03..)

**38.** දෙවැන්නේ දියුණුවට පළමුවැන්න හේතු වේ යැයි සැලකෙන මාතෘකා යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D (..02..)

**39.** දෙවැන්න පළමුවැන්නේ අහිතකර ප්‍රතිඵලයක් බවට දැක්විය හැකි මාතෘකා යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D (..01..)

**40.** පළමුවැන්න දෙවැන්නේ යහපතට මෙන්ම අයහපතට ද හේතුවන බවට දැක්විය හැකි මාතෘකා යුගලය කුමක් ද?
(1) A (2) B (3) C (4) D (..04..)

* *

## 11 වන ප්‍රශ්න පත්‍රයේ අභිමතාර්ථ

1. 1:50 000 භූ ලක්ෂණ සිතියම්වල දැක්වෙන තොරතුරු විශ්ලේෂණය හා විවරණය කිරීමේ හැකියාව විමසීම
2. ලෝකය හා ශ්‍රී ලංකාවේ කාලීන වැදගත්කමක් දක්වන විවිධ භූගෝල විද්‍යාත්මක තොරතුරු හා සම්බන්ධ ස්ථාන හා ඒවායේ පිහිටීම පිළිබඳ දැනුම සිතියම් ඇසුරින් පිරික්සීම
3. වායුගෝලීය ක්‍රියාකාරීත්වය හා වායුගෝලයේ පැවැත්ම කෙරෙහි මිනිස් ක්‍රියාකාරකම්වල බලපෑම් පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම
4. ලෝකයේ කෘෂිකාර්මික භූමි පරිභෝග ක්‍රම යටතේ කෙරෙන ධාන්‍ය වගාව හා ව්‍යාපාරික කිරිපට්ටි පාලනයේ ව්‍යාප්තිය විශේෂ ලක්ෂණ හා ගැටලු පිළිබඳ දැනුම හා අවබෝධය පිරික්සීම
5. ශ්‍රී ලංකාවේ වී වගාවේ ව්‍යාප්තිය හා ගැටලු පිළිබඳ විමසීම
6. ලෝකය හා ශ්‍රී ලංකාවේ නිෂ්පාදන කර්මාන්ත ස්ථානගත වීම කෙරෙහි බලපා ඇති සාධක පිළිබඳ දැනුම හා නිෂ්පාදන කර්මාන්ත ආශ්‍රිත පාරිසරික ගැටලු පිළිබඳ අවබෝධය පිරික්සීම
7. ශ්‍රී ලංකාවේ පෙට්‍රෝ රසායන කර්මාන්තය දියුණු කිරීමේ වාසි හා අවාසි පිළිබඳ අවබෝධය විමසීම
8. ශ්‍රී ලංකාවේ භූමි පරිහරණය පිළිබඳ ගැටලු හා භූමි සංරක්ෂණ ක්‍රියාමාර්ග පිළිබඳ දැනුම හා අවබෝධය විමසීම
9. ලෝකයේ හා ශ්‍රී ලංකාවේ ජන ව්‍යාප්තිය කෙරෙහි බලපා ඇති සාධක හා ජන සංකේන්ද්‍රන කලාපවල විශේෂ ලක්ෂණ පිළිබඳ අවබෝධය විමසීම
10. සංවර්ධනය මැනීමේ ක්‍රම හා ශ්‍රී ලංකාවේ මෑත කාලීන සංවර්ධන ක්‍රියාමාර්ග පිළිබඳ අවබෝධය පිරික්සීම
11. ශ්‍රී ලංකාවේ සුළු අපනයන භෝග වගාවේ වැදගත්කම හා ඒවා දියුණු කිරීම සඳහා රජය ගෙන ඇති ක්‍රියාමාර්ග පිළිබඳ අවබෝධය විමසීම

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**61 S I, II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2018 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2018 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2018**

භූගෝල විද්‍යාව I, II
புவியியல் I, II
Geography I, II

## භූගෝල විද්‍යාව II

* මෙම ප්‍රශ්න පත්‍රය I හා II වශයෙන් කොටස් **දෙකකින්** සමන්විත ය.
* I කොටසේ ප්‍රශ්නය අනිවාර්ය වේ. එහි (අ), (ආ) සහ (ඉ) කොටස් **තුනට ම** පිළිතුරු සැපයිය යුතු ය.
* II කොටසින් ප්‍රශ්න **හතරකට** පිළිතුරු සැපයිය යුතු ය.
* පිළිතුරු සැපයිය යුතු මුළු ප්‍රශ්න සංඛ්‍යාව **පහකි.**

### I කොටස

1. (අ) ඔබ වෙත සපයා ඇති 1:50 000 භූ ලක්ෂණ සිතියම් කොටස අධ්‍යයනය කර, ඒ ඇසුරෙන් අසා ඇති ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. පිළිතුරු ලිවීම සඳහා ඔබ වෙත සපයා ඇති කඩදාසිය (පිටු අංක **8**) යොදා ගන්න.

අංක (i) සිට (iii) දක්වා ඇති ප්‍රශ්නවලට ගැළපෙන පිළිතුර වරහන් තුළින් තෝරා ලියන්න.

(i) අංක ① න් දක්වා ඇත්තේ කුමක් ද?
(ගල / ගල්වල / කොත් කන්ද) (ලකුණු 01 යි)

(ii) අංක ② න් දක්වා ඇත්තේ කුමක් ද?
(වනාන්තර / වෙනත් වගා / අභය භූමිය) (ලකුණු 01 යි)

(iii) අංක ③ න් දක්වා ඇත්තේ කුමක් ද?
(පටු දුම්රිය මාර්ගය / පුළුල් ඒකීය දුම්රිය මාර්ගය / පුළුල් ද්විත්ව දුම්රිය මාර්ගය) (ලකුණු 01 යි)

(iv) ප්‍රදේශයේ දක්නට ලැබෙන ප්‍රධාන ව්‍යාපාරික භෝගය කුමක් ද? (ලකුණු 01 යි)

(v) සිතියම් ප්‍රදේශයේ ප්‍රධාන ගංගාව ඔස්සේ විහිදෙන පරිපාලන මායිම කුමක් ද? (ලකුණු 01 යි)

(vi) **A** අක්ෂරයෙන් දක්වා කොටු කර ඇත්තේ ජනාවාසයකි. එහි සංකේත මගින් දක්වා ඇති පොදු සේවා සපයන රාජ්‍ය ආයතන **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(vii) **A** අක්ෂරයෙන් දක්වා කොටු කර ඇති ප්‍රදේශය ජනාවාසයක් වීම කෙරෙහි බලපා ඇති ප්‍රධානතම මානව සාධකය කුමක් ද? (ලකුණු 01යි)

(viii) **X** ස්ථානය ඔස්සේ විහිදෙන අක්ෂාංශය නිවැරදිව නම් කරන්න. (ලකුණු 01 යි)

(ix) සිතියම් ප්‍රදේශයේ වී වගාවේ ව්‍යාප්තිය කෙරෙහි බලපා ඇති භෞතික සාධකය කුමක් ද?(ලකුණු 01යි)

(ආ) ඔබ වෙත සපයා ඇති ලෝක සිතියම හොඳින් අධ්‍යයනය කර, පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. පිළිතුරු සැපයීම සඳහා ලෝක සිතියමට යාබදව දක්වා ඇති තීරුව (පිටු අංක **9**) යොදා ගන්න.

අංක (i) සිට (v) තෙක් එක් එක් ප්‍රශ්නයට ඉදිරියෙන් දී ඇති ඉංග්‍රීසි අක්ෂර තුන අතුරෙන් නිවැරදි පිළිතුර දැක්වෙන අක්ෂරය සිතියමෙන් තෝරා සිතියමට යාබදව ඇති තීරුවේ එක් එක් ප්‍රශ්න අංකය ඉදිරියේ ඇති කොටුව තුළ ලියා දක්වන්න.

(i) **බෝල්ටික් මුහුද** - **A, B, C**

(ii) 2018 ආසියානු ක්‍රීඩා උළෙල පැවැත්වූ ඉන්දුනීසියාවේ **සුමාත්‍රා දූපත** - **D, E, F**

(iii) **ඇටකාමා ඝිත කාන්තාරය** - **G, H, J**

(iv) ලෝකයේ වඩාත් ගැඹුරුම විල ලෙස සැලකෙන **බයිකල් විල** - **K, L, M**

(v) මිනිරන් නිෂ්පාදනයට වැදගත් අප්‍රිකානු රටක් වන **ටැන්සානියාව** - **P, Q, R**

(ලකුණු 05 යි)

(ඉ) ඔබ වෙත සපයා ඇති ශ්‍රී ලංකා සිතියම හොඳින් අධ්‍යයනය කර, පහත සඳහන් ප්‍රශ්නවලට පිළිතුරු සපයන්න. පිළිතුරු සැපයීම සඳහා ලංකා සිතියමට යාබදව දක්වා ඇති තීරුව (පිටු අංක **9**) යොදා ගන්න. අංක (i) සිට (v) තෙක් එක් එක් ප්‍රශ්නයට ඉදිරියෙන් දී ඇති ඉංග්‍රීසි අක්ෂර තුන අතුරෙන් නිවැරදි පිළිතුර දැක්වෙන අක්ෂරය සිතියමෙන් තෝරා සිතියමට යාබදව ඇති තීරුවේ එක් එක් ප්‍රශ්න අංකය ඉදිරියේ ඇති කොටුව තුළ ලියන්න.

(i) තාප බලාගාරයක් පිහිටි **කෙරවලපිටිය** - **A, B, C**

(ii) **වව්නියා දිස්ත්‍රික්කය** - **D, E, F**

(iii) රබර් පර්යේෂණායතනය පිහිටි **අගලවත්ත** - **G, H, J**

(iv) කෙමලින් නිධියක් පිහිටා ඇති **මීටියාගොඩ** - **K, L, M**

(v) සංචාරක ආකර්ෂණයක් වූ **පාසිකුඩා වෙරළ** - **P, Q, R**

(ලකුණු 05 යි)

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව
இலங்கைப் பரீட்சைத் திணைக்களம்
Department of Examinations, Sri Lanka

**61 II**

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය, 2018 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2018 டிசெம்பர்
**General Certificate of Education (Ord. Level) Examination, December 2018**

භූගෝල විද්‍යාව II / புவியியல் II / **Geography II**




SCALE : 1:50000

ශ්‍රී ලංකා විභාග දෙපාර්තමේන්තුව/இலங்கைப் பரீட்சைத் திணைக்களம்/Department of Examinations, Sri Lanka

අධ්‍යයන පොදු සහතික පත්‍ර (සාමාන්‍ය පෙළ) විභාගය 2018 දෙසැම්බර්
கல்விப் பொதுத் தராதரப் பத்திர (சாதாரண தர)ப் பரீட்சை, 2018 டிசெம்பர்
General Certificate of Education (Ord. Level) Examination, December 2018

විභාග අංකය / சுட்டெண் / Index Number ..............................

(61) භූගෝල විද්‍යාව II
புவியியல் II
**Geography II**

පරීක්ෂකවරයාගේ ප්‍රයෝජනය පිණිසයි. / பரீட்சகரின் உபயோகத்திற்கு மட்டும் / For Examiner's Use Only

1. (අ) /(அ) /(a)

(i) ගල

(ii) වෙනත් වගා

(iii) පුළුල් ද්විත්ව ධාවන මාර්ගය

(iv) පොල්

(v) ජලාශ මායිම

(vi) තැ.ක.ල / තැපැල් කාර්යාලය / උද්‍යානය / ධාවන පොල - මින් දෙකක් නම් කිරීම

(vii) මාර්ග සන්ධිස්ථානයක් වීම

(viii) උ. අක්ෂාංශ 7°.15' / 7°.15'

(ix) නැගිත ලාබිම් / දියපාරවල් / ජලමාර්ග

10

(ආ) /(ஆ) /(b)




(i) B

(ii) D

(iii) H

(iv) K

(v) R

/5

(ඉ) /(இ) /(c)




(i) B

(ii) E

(iii) H

(iv) M

(v) P

/5

1. (අ) (அ) (a) /10 (ආ) (ஆ) (b) /5 (ඉ) (இ) (c) /5 = /20

## II කොටස

2. (i) පෘථිවි වායුගෝලයේ සංයුතිය අනුව එහි අඩංගු ප්‍රධාන වායු වර්ගවල ප්‍රතිශත අගයයන් යාබද රූප සටහනෙහි Ⓐ, Ⓑ, Ⓒ හා Ⓓ වලින් දක්වා ඇත. Ⓐ හා Ⓑ වලින් දැක්වෙන වායු වර්ග **දෙක** අනුපිළිවෙළින් නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) පරිවර්තී ගෝලයෙහි ප්‍රධාන ලක්ෂණ **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) වර්තමානයේ වායුගෝලය අපවිත්‍ර වීම කෙරෙහි හේතු වී ඇති මිනිස් ක්‍රියාකාරකම් **තුනක්** නම් කර, ඉන් එකකින් සිදුවන බලපෑම පිළිබඳ කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 05 යි)




02. (i)

(A) නයිට්‍රජන් ($N_2$)

(B) ඔක්සිජන් ($O_2$)

ලකුණු **1 + 1 = 02**

(ii)

- පෘථිවි පෘෂ්ඨයේ සිට 8 -12 Km පමණ ඉහළට විහිදේ.
- උන්නතාංශය සමග උෂ්ණත්වය ක්‍රමයෙන් පහළ බසී (පතන සීඝ්‍රතාව)
- සියලුම කාලගුණ සංසිද්ධි හටගන්නේ මෙම ස්ථරයේ ය
- ජෛවගෝලයේ පැවැත්මට ඉතා වැදගත් වේ
- සාමාන්‍ය ගුවන් යානා ගමන් කරන්නේ මෙහි ඉහළ සීමාව ආසන්න කලාපයේ ය
- වායු වර්ග වලින් වැඩි කොටසක් මෙහි අන්තර්ගත වේ

**මෙයින් තුනක් සඳහන් කිරීම 1 x 3 = 03**

(iii)

- පොසිල ඉන්ධන අධික දහනය
- කාර්මීකරණය
- ඝන අපද්‍රව්‍ය බැහැර කිරීම හා පිළිස්සීම
- වනාන්තර ගිනි තැබීම
- න්‍යෂ්ටික අත්හදා බැලීම්
- යුද්ධමය කටයුතු

**මෙවැනි ක්‍රියාකාරකම් තුනක් නම් කිරීමට - 03**
**එකකින් සිදුවන බලපෑම විස්තර කිරීමට - 02**
ලකුණු 05

**3.** (i) කෘෂිකාර්මික භූමි පරිභෝග ක්‍රම යටතේ
(a) ලෝකයේ වැඩියෙන්ම වගා කෙරෙන ව්‍යාපාරික ධාන්‍ය වර්ගය ද
(b) ආසියාතික රටවල ශ්‍රම සූක්ෂම වගාවක් ලෙස කෙරෙන ප්‍රධාන ධාන්‍ය වර්ගය ද
පිළිවෙළින් නම් කරන්න.
(ලකුණු 02 යි)

(ii) ලෝකයේ ව්‍යාපාරික කිරි පට්ටි පාලනය හා සම්බන්ධ විශේෂ ලක්ෂණ **තුනක්** සඳහන් කරන්න.
(ලකුණු 03 යි)

(iii) (a) ශ්‍රී ලංකාවේ වී පර්යේෂණායතනයක් පිහිටි ස්ථානයක් නම් කරන්න.
(b) ශ්‍රී ලංකාවේ තෙත් කලාපයේ කෙරෙන වී වගාවේ විශේෂ ලක්ෂණ **දෙකක්** විස්තර කරන්න.
(ලකුණු 05 යි)

03. (i)

(A) ව්‍යාපාරික ධාන්‍ය වර්ගය - තිරිඟු
(B) ශ්‍රම සූක්ෂම වගාව යටතේ කෙරෙන ධාන්‍ය වර්ගය - වී

**ලකුණු 1 + 1 = 02**

(ii)

- ලෝකයේ සංවර්ධිත රටවල් ව්‍යාපාරික කිරිපට්ටි පාලනයේ ප්‍රමුඛත්වය ලබා ගෙන සිටීම
- කිරි ආශ්‍රිත වෙළෙඳපොල සංවර්ධිත රටවල් විසින් පාලනය කිරීම
- කිරි ලබා ගැනීම, ප්‍රවාහනය, ගබඩා කිරීම මෙන්ම ලබාගන්නා කිරි ප්‍රමාණය වැඩි කිරීමට ද දියුණු ශිල්පක්‍රම භාවිතය
- දියර කිරි හා කිරි ආශ්‍රිත නිෂ්පාදන පරිභෝජනය වැඩි වීම
- බහුජාතික සමාගම් කර්මාන්තයෙහි පුමුඛවීම
- කිරි ගවයන් නිදැල්ලේ තණ කැවීමට වඩා මඩු කුඩාරම්වල රඳවා සත්වාහාර සැපයීම මගින් පෝෂණය කිරීම ප්‍රචලිත වීම
- උසස් වර්ගයේ දෙමුහුන් කිරි ගවයන් ඇති කිරීම ප්‍රචලිත වීම

**මෙවැනි විශේෂ ලක්ෂණ තුනක් සඳහන් කිරීමට ලකුණු 01 x 3 = 03**

(iii)

(A)
- මහඉලුප්පල්ලම, බෝම්බුවෙල, බතලගොඩ, හිඟුරක්ගොඩ, අම්බලන්තොට, ලබුදූව

(B)
- ගංගා මිටියාවත්වල හා පහත් ප්‍රදේශවල වගා කිරීම
- ප්‍රධාන වශයෙන් වර්ෂා ජලයෙන් වගා කිරීම
- අස්වනු ප්‍රමාණය වියළි කලාපයට සාපේක්ෂව අඩුවීම
- කුඩා බිම් කට්ටිවල වගාකිරීම
- ජල ගැලීම්වලට භාජනය වීම නිසා වගාහානි සිදුවීම
- බෑවුම් ප්‍රදේශවල හෙල්මළු ක්‍රමයට වගා කිරීම

**මෙවැනි විශේෂ ලක්ෂණ දෙකක් විස්තර කිරීම**

**A ලකුණු - 01**
**B ලකුණු - 04**
**05**

4. (i) නිෂ්පාදන කර්මාන්ත ස්ථානගත වීම කෙරෙහි බලපාන සාධක **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ලෝකයේ නිෂ්පාදන කර්මාන්ත ආශ්‍රිතව පැන නැගී ඇති පාරිසරික ගැටලු **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (a) ශ්‍රී ලංකාවේ පෙට්‍රෝ රසායන කර්මාන්තය ආශ්‍රිත නිෂ්පාදන **දෙකක්** නම් කරන්න.

(b) පෙට්‍රෝ රසායන කර්මාන්තය දියුණු කිරීමෙන් අත්වන වාසි **දෙකක්** හා අවාසි **එකක්** කෙටියෙන් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

04. (i)

- බලශක්තිය
- අමුද්‍රව්‍ය
- ප්‍රවාහනය
- යටිතල පහසුකම්
- ශ්‍රමය
- ප්‍රාග්ධනය
- වෙළෙඳපොල
- රාජ්‍ය ප්‍රතිපත්ති

**මින් දෙකක් නම් කිරීම 1 + 1 = 02**

(ii)

- ගොඩබිම
- වායුව
- ජලය හා සාගර පත්ල දූෂණයට ලක්වීම

(සායම්, තෙල් වර්ග, විෂ ද්‍රව්‍ය එක්වීම)

- ශාක හා සත්ත්ව ප්‍රජාවන් වඳවීම හා නව ශාක හා සත්ත්ව වර්ග බිහිවෙමින් පැවතීම
- කාර්මික අපද්‍රව්‍ය අක්‍රමවත්ව බැහැර කිරීම
- බැර ලෝහ අංශු (රසදිය, ඊයම්) ජෛව පද්ධතියට එක් වී ශාක හා සත්ත්ව ජාන විකෘති වීම
- ගෝලීය උෂ්ණත්වය ඉහළ යාම
- කාලගුණ විපර්යාස ඇති වීම
- අම්ල වැසි හට ගැනීම
- භූගත ජලය දූෂණය වීම
- කාර්මික දියුණුවට සමගාමීව විද්‍යුත් උපාංග හා උපකරණ අපද්‍රව්‍ය ලෙස එක්රැස්වීම
- ජෛව තාක්ෂණයේ දියුණුවත් සමග මෙතෙක් ලොව නොතිබූ වෛරස්, දිලීර හා බැක්ටීරියා වැනි රෝග කාරක පැතිරීම
- ධූමිකා නිර්මාණය වීම

**මෙවැනි ගැටලු තුනක් සඳහන් කිරීමට ලකුණු 1 x 3 = 03**

(iii)

(A)

- ප්ලාස්ටික්
- කෘමිනාශක
- රසායනික පොහොර
- ඖෂධ වර්ග
- තීන්තවර්ග
- ලිහිසිතෙල්
- සුවඳ විලවුන්
- පැරපින් ඉටි
- රූපලාවන්‍ය ආලේපන
- කෘතිම රබර්
- වෙනත් ද්‍රවක

**මේවායින් දෙකක් නම් කිරීම**

(B)

<u>වාසි</u>

- රැකියා අවස්ථා ජනනය වීම
- නිෂ්පාදන සඳහා ඉහළ ඉල්ලුමක් පැවතීම
- ඉහළ ආදායම් ලැබීමේ හැකියාව
- නිෂ්පාදිත භාණ්ඩ සඳහා දේශීය වෙළෙඳපොල පුළුල් වීම
- විවිධ නිෂ්පාදන කළ හැකි වීම
- ශ්‍රී ලංකාවේ තෙල් පිරිපහදුව නිසා අමුද්‍රව්‍ය ලබා ගැනීමේ පහසුව
- සාපේක්ෂ වශයෙන් අඩු පිරිවැයකින් අතුරු නිෂ්පාදන කළ හැකිවීම

**අවාසි**

- ආනයනික තෙල් පිරිපහදුවේ ප්‍රමාණය මත අමුද්‍රව්‍ය ප්‍රමාණය තීරණය වීම
- තෙල්මිල ඉහළ යාම කර්මාන්තය කෙරෙහි අහිතකර ලෙස බලපෑම
- නිෂ්පාදන වියදම් වැඩිවීම නිසා භාණ්ඩ මිල ඉහළ යාම
- ප්‍රාග්ධන සූක්ෂම කාර්මාන්තයක් නිසා ප්‍රාග්ධන හිඟය බලපෑම
- ආනයනික භාණ්ඩ නිසා ඇතිවන වෙළෙඳපොල තරගකාරී වීම
- කර්මාන්තයෙන් ඉවත්වන අපද්‍රව්‍ය හා භාවිතයෙන් පසු භාණ්ඩ ඉවත දැමීම නිසා සිදුවන පරිසර හානිය

**මෙවැනි වාසි දෙකක් හා අවාසි එකක් පැහැදිලි කිරීම**

**A ලකුණු - 02**

**B ලකුණු - 03**

**05**

**5.** (i) ශ්‍රී ලංකාවේ වගා කෙරෙන සාම්ප්‍රදායික සුළු අපනයන බෝග අතුරෙන් 'කුළුබඩු' ගණයට අයත් වන බෝග **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ශ්‍රී ලංකාවේ සුළු අපනයන බෝග වගාව දියුණු කිරීම කෙරෙහි අවධානය යොමු කිරීමට හේතු වූ කරුණු **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (a) ශ්‍රී ලංකාවේ සාම්ප්‍රදායික නොවන සුළු අපනයන බෝග **දෙකක්** නම් කරන්න.

(b) සුළු අපනයන බෝග වගාව දියුණු කිරීම සඳහා ශ්‍රී ලංකා රජය ගෙන ඇති ක්‍රියාමාර්ග **තුනක්** විස්තර කරන්න.

(ලකුණු 05 යි)

05. (i)

- කුරුඳු
- ගම්මිරිස්
- කරාබු නැටි
- කරදමුංගු
- සාදික්කා
- වසාවාසි

**මින් දෙවර්ගයක් නම් කිරීම ලකුණු 1 x 1 = 01**

**1 + 1 = 02**

(ii)

- සම්ප්‍රදායික අපනයනවල මිල උච්චාවචනය වීම
- තේ, පොල්, රබර්, වැනි සම්ප්‍රාදායික අපනයන කෙරෙහි පමණක් බලාපොරොත්තු තැබිය නොහැකි වීම
- විදේශ විනිමය පිළිබඳ ගැටලු මතුවීම
- ලෝක වෙළඳපොළේ සුළු අපනයන බෝගවලට ඉල්ලුම වැඩි වීම
- සුළු අපනයන භෝග වගා කිරීමෙන් දේශීය ජනතාවගේ ආදායම වැඩිකර ගත හැකි වීම
- තේ, රබර්, පොල්, වගාකළ නොහැකි බිම්වලද වගා කළ හැකි වීම
- අතුරු වගාවක් ලෙස ද කළ හැකිවීම
- රැකියා අවස්ථා බිහි වීම
- දිවයිනේ බොහෝ ප්‍රදේශවල වගාකළ හැකිවීම
- කර්මාන්ත වලට ආවේනික වූ ශ්‍රම බලකායක් සිටීම

**මෙවැනි කරුණු තුනක් සඳහන් කිරීම ලකුණු 03**

(iii) (A)
- බුලත් • මල් • කජු • පැඟිරි • පළතුරු
- මිරිස් • රටකජු • විසිතුරු පැල • එළවලු
- ඩ්‍රැගන් ෆෘට් • කෙසෙල් • පැණිකොමඩු

**බෝග දෙකක් නම් කිරීමට ලකුණු 02**

(B)
- 1972 සුළු අපනයන බෝග දෙපාර්තමේන්තුව පිහිටුවීම
- අපනයන බෝග විවිධාංගීකරණය
- 2010 දී කෘෂි අපනයන මණ්ඩලය පිහිටුවීම
- සුළු අපනයන භෝග පර්යේෂණායතනය පිහිටුවීම - මාතලේ
- වගා සඳහා පොහොර සහනාධාර ලබාදීම
- වගා සඳහා ණය ආධාර සැපයීම
- සුළු අපනයන බෝග ගම්මාන පිහිටුවීම
- ගොවීන් පුහුණු කිරීම
- කාබනික වගාව දිරිමත් කිරීම

**මෙවැනි ක්‍රියා මාර්ග තුනක් කෙටියෙන් විස්තර කිරීම ලකුණු 03**

**A ලකුණු - 02**

**B ලකුණු - 03**

**05**

**6.** ශ්‍රී ලංකාවේ ස්වාභාවික සම්පත් අතර 'භූමිය' ඉතා වැදගත් වන අතර ඒ වටා පිහිටි දූපත් ද ඇතුළුව වර්ග කි.මී. 65610ක භූමි ප්‍රමාණයක් ඊට අයත් වේ.

(i) ශ්‍රී ලංකාවට අයත් වන දූපත් **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ශ්‍රී ලංකාවේ භූමි පරිහරණය සම්බන්ධ ගැටලු **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) ශ්‍රී ලංකාවේ භූමි සංරක්ෂණ ක්‍රමෝපාය **තුනක්** නම් කර, ඉන් එකක් පිළිබඳ කෙටි විස්තරයක් කරන්න. (ලකුණු 05 යි)

06. (i)
- ඩෙල්ෆ්ට් • මන්නාරම • කයිට්ස් • නයිනතිව්/නාගදීප
- මන්ඩතිව් • එළුවයිතිවු • අනලයිතිවු • කච්චතිවු • කරෙයිතිවු
- පාලයිතිවු • ඉරණයිතිවු • මහා රාවණා කෝට්ටේ • පුන්කුඩුතිව්
- කුඩා රාවණා කෝට්ටේ • පරෙවි දූපත

**(ලකුණු 02)**

(ii)
- වනාන්තර හා බෑවුම් ප්‍රදේශ එළි කිරීම නිසා ජෛව සම්පත්වලට හානි සිදුවීම
- පහත් බිම් ගොඩ කිරීම, කාණු පද්ධති අවහිර කිරීම වැනි කටයුතු නිසා ජල ගැලීම්වලට ලක් වීම
- ජලාශ ගොඩවීම
- වෙරළබඩ පරිසර පද්ධති විනාශ වීම
- නාගරික ප්‍රදේශවල පාරිසරික, සෞඛ්‍ය හා සනීපාරක්ෂක ගැටලු හට ගැනීම
- ඛනිජ හෑරීම නිසා විශාල වලවල් නිර්මාණයවීම මගින් සෞඛ්‍ය ගැටලු ඇතිවීම (මැණික් පතල්/මැටි හෑරීම)
- පාංශු ඛාදනය හා හායනය සිදුවීම
- නාය යෑම් හට ගැනීම
- භූ විෂමතාව වෙනස් වීම

**මෙවැනි ගැටලු තුනක් සඳහන් කිරීම ලකුණු 03**

(iii)

- ඉඩම් පරිහරණ ප්‍රතිපත්ති සැලසුම් කිරීම
- නගර ක්‍රමවත්ව සැලසුම් කිරීම
- බෝගවගා කිරීමේ නව ආරක්ෂණ ක්‍රම ඇති කිරීම (සෝල්ටී ක්‍රමය)
- වනාන්තර ප්‍රතිරෝපනය කිරීම
- වෙරළ සීමා ඇති කිරීම හා ඒ හා සම්බන්ධ නීති ක්‍රියාත්මක කිරීම
- කොරල් පර හිරිගල් පර කැඩීම තහනම් කිරීම
- ජනතාව දැනුවත් කිරීම

**මෙවැනි ක්‍රමෝපායන් තුනක් නම් කිරීම හා එකක් විස්තර කිරීම**

**ක්‍රමෝපාය තුන නම් කිරීම = 05**

7. (i) (a) ලෝක ජන සංඛ්‍යාවෙන් 60%ක පමණ ප්‍රමාණයක් ව්‍යාප්තව ඇති මහාද්වීපය ද

(b) ලෝක ජන සංඛ්‍යාවෙන් 10%ක පමණ ප්‍රමාණයක් ව්‍යාප්ත වී ඇති මහාද්වීපය ද

පිළිවෙළින් නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) ලෝකයේ අධිජන සංකේන්ද්‍රණ කලාපවල දැකිය හැකි විශේෂ ලක්ෂණ **තුනක්** සඳහන් කරන්න. (ලකුණු 03 යි)

(iii) (a) ලෝක ජන සංඛ්‍යාවේ අසම ව්‍යාප්තියට බලපා ඇති භෞතික සාධක **එකක්** හා මානුෂ සාධක **එකක්** නම් කරන්න.

(b) ශ්‍රී ලංකාවේ ජන ව්‍යාප්තිය කෙරෙහි භෞතික සාධක බලපා ඇති ආකාරය නිදසුන් **දෙකක්** ඇසුරෙන් පැහැදිලි කරන්න. (ලකුණු 05 යි)

07 (i)

(A) ආසියාව

(B) යුරෝපය

**(ලකුණු 02)**

(ii)

- වෙරළබඩ ප්‍රදේශ ආශ්‍රිතව පිහිටා තිබීම
- හිතකර භෞතික පරිසරයන් පැවතීම
- ගමනා ගමන පහසුව
- වෙළෙඳාම හා වෙනත් ආර්ථික කටයුතුවලට යෝග්‍ය වීම
- මිලියන නගරවලින් වැඩි සංඛ්‍යාවක් මෙම කලාපවල පිහිටා තිබීම

**මෙවැනි ලක්ෂණ තුනක් සඳහන් කිරීමට ලකුණු 03**

(iii) (A)

**<u>භෞතික සාධක</u>**

- දේශගුණය
- භූවිෂමතාව
- ජලවහනය
- වෘක්ෂලතා
- ස්වභාවික සම්පත්වල ව්‍යාප්තිය

**මෙයින් එකක් නම් කිරීම**

මානුෂ සාධක
- කර්මාන්ත ස්ථාන ගතවීම
- නාගරිකරණය
- වෙළෙඳ මධ්‍යස්ථාන
- වරාය
- යටිතල පහසුකම්
- සේවාවන් ඒකරාශීවීම

**මින් එකක් නම් කිරීම**

(B)

- භූ විෂමතාව
- දේශගුණය
- වෘක්ෂලතා

**ජන ව්‍යාප්තිය කෙරෙහි බලපා ඇති ආකාරය නිදසුන් දක්වමින් විස්තර කර තිබිය යුතු ය.**

**A ලකුණු - 02**

**B ලකුණු - 03**

**05**

**8.** සංවර්ධනය මැනීම සඳහා භාවිත කෙරෙන දර්ශක පහක් පහත දක්වා ඇත.
- දළ දේශීය නිෂ්පාදිතය
- මූර්ත දළ ජාතික නිෂ්පාදිතය
- මානුෂ සංවර්ධන දර්ශකය
- දළ ජාතික නිෂ්පාදිතයේ වර්ධන වේගය
- මානුෂ දරිද්‍රතා දර්ශකය

(i) ඉහත දක්වා ඇති දර්ශක අතුරෙන් නූතන මිනුම් ගණයට අයත් වන මිනුම් **දෙකක්** නම් කරන්න. (ලකුණු 02 යි)

(ii) රටක සංවර්ධන ක්‍රියාවලිය වේගවත් කිරීම සඳහා මානව සම්පත සංවර්ධනය කිරීම අත්‍යවශ්‍ය ය. ශ්‍රී ලංකාවේ මානව සම්පත සංවර්ධනය කිරීමේදී විශේෂ අවධානය යොමු කළ යුතු ක්ෂේත්‍ර **තුනක්** නම් කරන්න. (ලකුණු 03 යි)

(iii) ඔබ ඉහත (ii) හි නම් කළ ක්ෂේත්‍ර තුනෙන් එක් ක්ෂේත්‍රයක සංවර්ධනය සඳහා මෑත කාලීනව ගෙන ඇති ක්‍රියාමාර්ග **දෙකක්** කෙටියෙන් විස්තර කරන්න. (ලකුණු 05 යි)

08 (i)
- මානුෂ සංවර්ධන දර්ශකය (H.D.I.)
- මානුෂ දරිද්‍රතා දර්ශකය (H.P.I.)

**(ලකුණු 02)**

(ii)
- අධ්‍යාපන ක්ෂේත්‍රය
- සෞඛ්‍යය ක්ෂේත්‍රය
- තොරතුරු හා සන්නිවේදන ක්ෂේත්‍රය
- යටිතල පහසුකම්
- ප්‍රාදේශීය සංවර්ධනය
- වෘත්තීය පුහුණු ක්ෂේත්‍රය

**මේවායින් තුනක් නම් කිරීම ලකුණු 03**

(iii)

- අධ්‍යාපන • සෞඛ්‍යය • තොරතුරු හා සන්නිවේදන ක්ෂේත්‍රය
- යටිතල පහසුකම් • ප්‍රාදේශීය සංවර්ධනය
- වෘත්තීය පුහුණු ක්ෂේත්‍රය

නම් කරන ලද එක් ක්ෂේත්‍රයක සංවර්ධනය සඳහා මෑත කාලීනව ගෙන ඇති ක්‍රියා මාර්ග තුනක් විස්තර කිරීම

ඒ ඒ ක්ෂේත්‍රවලට අදාල ව ලියා ඇති විස්තරයකට
සුදුසු පරිදි ලකුණු දෙන්න. ක්‍රියාමාර්ග
දෙක නම් කිරීම හා විස්තර කිරීමට ලකුණු 05

* අධ්‍යාපන ක්ෂේත්‍රය
- විද්‍යාගාර තාක්ෂණ පහසුකම් ලබාදීම
- විෂය මාලාවට තාක්ෂණික විෂය ක්ෂේත්‍ර හඳුන්වා දීම
- වෘත්තීය අධ්‍යාපන අවස්ථා පුළුල් කිරීම - (13 වසර අඛණ්ඩ අධ්‍යාපනය)
- උසස් අධ්‍යාපන අවස්ථා පුළුල් කිරීම
- නොවිධිමත් අධ්‍යාපන අවස්ථා ඇති කිරීම - මෙවැනි ක්‍රියාමාර්ග තුනක් විස්තර කිරීම

* සෞඛ්‍ය ක්ෂේත්‍රය
- පහසුකම් වැඩි කිරීම (භෞතික හා මානව සම්පත්)
- සෞඛ්‍ය අධ්‍යාපනය
- නවීන තාක්ෂණික පහසුකම් හඳුන්වා දීම
- නොමිලේ ගිලන් රථ සේවය
- ජනතාව තුළ යහපත් සෞඛ්‍ය පුරුදු ඇති කිරීම. (රෝග වැලැක්වීම)
- දේශීය වෛද්‍ය ක්‍රමය ප්‍රචලිත කිරීම
- ප්‍රාදේශීය සෞඛ්‍ය සේවා ව්‍යාප්ත කිරීම

* තොරතුරු සන්නිවේදනය
- දුරකථන සේවා පහසුකම් පුළුල් කිරීම
- අන්තර්ජාල පහසුකම් පුළුල් කිරීම
- විද්‍යුත් සේවා පහසුකම් පුළුල් කිරීම (e- Goverment/Banking)
- තොරතුරු තාක්ෂණය පිළිබඳ අධ්‍යාපන පහසුකම් පුළුල් කිරීම
- භාණ්ඩ හා සේවා ලබා ගැනීමේ පහසුකම්

* වෘත්තීය පුහුණු ක්ෂේත්‍රය
- වෘත්තීය සංවර්ධනය - වෘත්තීය මාර්ගෝපදේශන සේවා පුළුල් කිරීම
- විදේශ පුහුණු අවස්ථා උදා කරදීම
- විවිධ වෘත්තීය පාඨමාලා හා වෘත්තීය ප්‍රමිත සහතික ලබාදීම

* යටිතල පහසුකම්
- විනෝදය, විවේකය සඳහා පහසුකම් සැපයීම
- ප්‍රවාහන පහසුකම් වැඩි දියුණු කිරීම
- ගුවන් තොටුපොල හා වරාය සංවර්ධනය

* ප්‍රාදේශීය සංවර්ධනය
- විවිධ වැඩ සටහන් - ජනසවිය, සමෘධි, මගනැගුම, ගැමිදිරිය, ගම්පෙරළිය වැනි
- ග්‍රාමීය යටිතල පහසුකම් සංවර්ධනය
- ග්‍රාමීය ප්‍රජාව සවිබල ගැන්වීමේ ක්‍රියාමාර්ග